**වර්ෂ 1975 සිට 2019 දක්වා පවත්වන ලද අ.පො.ස. (සා.පෙළ) හා අ.පො.ස.(උ.පෙළ) විභාග වලට අදාළව විභාග අංකය ලබා ගැනීමට බලාපොරොත්තු වන අයදුම්කරුවන් සඳහා උපදෙස්.**

1. අදාළ අයදුම්පත (CT4) ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ වෙබ් අඩවිය මගින් පහත සබැඳිය හරහා බාගත කර ගන්න.

   අයදුම්පත : https://doenets.lk/documents/downloads/certificates-application-forms/Serch%20of%20Index.pdf

2. අයදුම්පත මුද්‍රණය කර නිවැරදිව සම්පූර්ණ කරන්න.

3. මෙහිදී ඔබට විභාග අංකය අවශ්‍ය වන විභාගයට අදාළව ඔබ විභාගයට පෙනී සිටි **වර්ෂය, විභාග මධ්‍යස්ථානය හා ඔබගේ සම්පූර්ණ නම** (විභාග අයදුම්පතේ සඳහන් කළ පරිදි) නිවැරදිව සඳහන් කරන්න.

4. එක අයදුම්පත්‍රයක් සඳහා රු. 150.00 ක මුදලක් ලංකා බැංකුවේ පහත සඳහන් ගිණුම් අංකයට බැර කර අදාළ රිසිට් පත හෝ තිර සටහන් ලබාගන්න. (Screenshot - මාර්ගගත ගෙවීම් සඳහා පමණි.)

   | | | |
   |---|---|---|
   | ලංකා බැංකුවේ ගිණුම් අංකය | - | **7041228** |
   | ගිණුමේ නම | - | ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව |
   | ශාඛාව | - | බත්තරමුල්ල ශාඛාව |

5. ² සම්පූර්ණ කරන ලද ඔබගේ අයදුම්පත
   - මුදල් ගෙවන ලද රිසිට් පත හෝ තිර සටහන
   - ජාතික හැඳුනුම්පත/ වලංගු රියදුරු බලපත්‍රය හෝ වලංගු විදේශ ගමන් බලපත්‍රයේ පැහැදිලි ඡායාරූපය හෝ ස්කෑන් පිටපත

   පහත සඳහන් විද්‍යුත් තැපැල් ලිපිනයට ඊමේල් පණිවිඩයක් ලෙස අමුණා එවන්න.

   විද්‍යුත් තැපෑල : doecertificates@gmail.com

6. එහි මාතෘකාව සඳහන් කරන ස්ථානයේ “Index Number” යන්න සඳහන් කර – ‘‘අයදුම් කරන දිනය’’ සහ ‘‘දුරකථන අංකය’’ පමණක් ඇතුළත් කරන්න.

7. ඉහත ක්‍රමවේදය අනුව ඔබගේ විභාග අංකය ලබා දීමට හැකිවන්නේ ඔබ විසින් අදාළ තොරතුරු (උදා: විභාගයේ නම, වර්ෂය හා පෙනී සිටි විභාග මධ්‍යස්ථානය යනාදිය) නිවැරදිව ලබාදී ඇත්නම් පමණි.

8. අසම්පූර්ණ හා අපැහැදිලි අයදුම්පත් හෝ රිසිට්පත් සහිත ඉල්ලීම් හා අවශ්‍ය සියලු ලේඛන එවා නොමැති ඉල්ලීම් පෙර දැනුම්දීමකින් තොරව අවලංගු කිරීමට සිදු වේ.

9. විභාග අංකය ලබා දිය හැකිවන්නේ ඔබගේ ඉල්ලීම හා සම්බන්ධ නිල වාර්තා මෙම දෙපාර්තමේන්තුව සතුව තිබේ නම් පමණි.

10. ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තු නිලධාරීන් ඔබගේ විභාග අංකය ඔබ විසින් සපයා ඇති තොරතුරු වලට අදාලව තහවුරු කර ගත් පසුව, එය ඔබගේ ඊමේල් ලිපිනයට පිළිතුරු පණිවිඩයක් ලෙස ඔබ වෙත ලබා දෙනු ඇත.